සියලු ම හිමිකම් ඇවිරිණි.

රහස්‍ය ලේඛනයකි.



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2022(2023)

# 25A - ඉන්දීය ඉතිහාසය

## ලකුණු දීමේ පටිපාටිය




මෙය උත්තරපත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා සකස් කෙරිණි.
ප්‍රධාන/ සහකාර පරීක්ෂක රැස්වීමේ දී ඉදිරිපත්වන අදහස් අනුව මෙහි වෙනස්කම් කරනු ලැබේ.

අවසන් සංශෝධන ඇතුළත් කළ යුතුව ඇත.

# අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2022(2023)

## 25A - ඉන්දිය ඉතිහාසය

## ලකුණු බෙදී යාමේ ආකාරය

**I පත්‍රය** = 01 x 40 = 40

**II පත්‍රය**

අනිවාර්ය පළමු ප්‍රශ්නයට ලකුණු = 12

සෙසු ප්‍රශ්න **03** කට **16** බැගින් = 48

II පත්‍රය අවසාන ලකුණු = 60

**අවසාන ලකුණු = 40 + 60 = 100**

**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப்) பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022 (2023)

ඉන්දීය ඉතිහාසය II (I කොටස)
இந்திய வரலாறு II (பகுதி I)
History of India II (Part I)

**25 A** **S** **II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**ඉන්දීය ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා**

විභාග අංකය: ........................................

**උපදෙස්:**
- ※ මෙම ප්‍රශ්න පත්‍රය I හා II ලෙස කොටස් **දෙකකින්** සමන්විත වේ.
- ※ I **කොටසෙහි 1-40** දක්වා ප්‍රශ්න **සියල්ලටම මෙම පත්‍රයේ ම ලබා දී ඇති උපදෙස් පරිදි** පිළිතුරු සපයන්න.
- ※ I **කොටසෙහි** නිවැරදි පිළිතුරක් සඳහා ලකුණු **එක** බැගින් හිමි වේ.
- ※ කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි**. පිළිතුරු ලියා අවසන් වූ පසු I **කොටස**, II **කොටසේ** පිළිතුරු පත්‍ර සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

- අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ**. එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන** තුළ ලියන්න.

**1.** (1) ජේලම් (2) චේනාබ් (3) නර්මදා
(4) රාවි (5) සට්ලෙජ් (......)

**2.** (1) හෙරඩෝටස් (2) මෙගස්තිනිස් (3) ඩයිමකොස්
(4) ප්ලිනි (5) ස්ට්‍රාබෝ (......)

**3.** (1) ලෝතාල් (2) චන්හුදාරෝ (3) කලිබන්ගන්
(4) පුට්කපේන්දෝර් (5) තාම්‍රලිප්ති (......)

**4.** (1) යදු (2) ද්‍රුහ්‍යු (3) අනු
(4) පුරු (5) තුර්වාස (......)

**5.** (1) වජ්ජි (2) විදේහ (3) අවන්ති
(4) මගධ (5) කෝසල (......)

**6.** (1) අශ්වඝෝෂ (2) නාගර්ජුන (3) චරක
(4) වසුමිත්‍ර (5) වසුබන්ධු (......)

**7.** (1) වික්‍රමශිලා (2) උජ්ජේනි (3) වලභි
(4) නාලන්දා (5) ඕදන්තිපුරි (......)

**8.** (1) චාලුක්‍ය (2) රාෂ්ට්‍රකූට (3) කාන්ව
(4) චෝළ (5) පල්ලව (......)

9. (1) රත්නාවලී (2) රඝුවංශ (3) මේඝදූත
(4) ශකුන්තල (5) කුමාරසම්භව (......)

10. (1) පළමුවන පරාන්තක (2) පළමුවන රජරාජ (3) පළමුවන රාජේන්ද්‍ර
(4) පළමුවන පුලකේශින් (5) පළමුවන රාජාධිරාජ (......)

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එක යුගලයක** පද එකිනෙකට **නොගැළපේ**. එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය**, ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

11. (1) ගංගා - කනෞජ්
(2) ක්‍රිෂ්ණ - උජ්ජේනි
(3) නර්මදා - භාරුකච්ඡ
(4) යමුනා - ඉන්ද්‍රප්‍රස්ථ
(5) රාවි - හරප්පා (......)

12. (1) සමුද්‍රගුප්ත - අලහබාද්
(2) දෙවැනි පුලකේශින් - අයිහොලේ
(3) ඛාරවේල - හතිගුම්පා
(4) මාරවර්මන් සුන්දර පාණ්ඩ්‍ය - උත්තරමේරූර්
(5) රුද්‍රදාමන් - ජුනාගාද් (......)

13. (1) ව්‍යාඝ්‍රරාජ - මහාකාන්තාර
(2) මහේන්ද්‍ර - කෝසල
(3) විෂ්ණු ගෝප - කාංචි
(4) මහේන්ද්‍රගිරි - පිෂ්ටපුර
(5) නාගසේන - පල්ලක්ක (......)

14. (1) වශිෂ්ක - කුෂාණ
(2) ගෞතමීපුත්‍ර සාතකර්ණි - සාතවාහන
(3) වත්සරාජ - රාෂ්ට්‍රකූට
(4) මහේන්ද්‍ර වර්මන් - පල්ලව
(5) ප්‍රභාකරවර්ධන - පුෂ්‍යභූති (......)

15. (1) ශූද්‍රක - මුද්‍රාරාක්ෂස
(2) හර්ෂවර්ධන - ප්‍රියදර්ශිකා
(3) කාලිදාස - මාලවිකාග්නිමිත්‍ර
(4) බාණභට්ට - කාදම්බරී
(5) කල්හණ - රාජතරංගිණී (......)

● අංක **16** සිට **20** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරවල දී ඇත. **Y** තීරයේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරයේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ**. **Y** තීරය **X** තීරය සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

| | X | | Y |
|---|---|---|---|
| 16. (i) | බින්දුසාර | A | වික්‍රමාදිත්‍ය |
| (ii) | දෙවන චන්ද්‍රගුප්ත | B | සකල උත්තරාපථනාථ |
| (iii) | හර්ෂවර්ධන | C | මදුරෙයි කොණ්ඩාන් |
| (iv) | පළමුවන රාජරාජ | D | අමිත්‍රඝාත |
| (v) | පළමුවන පරාන්තක | E | මුම්මුඩිචෝල |

(1) DABEC (2) DBACE (3) DCBEA (4) EADCB (5) ECDAB (......)

| | X | | Y |
|---|---|---|---|
| **17.** | (i) ප්‍රාච්‍ය | A | තොසලී |
| | (ii) කාලිංග | B | ස්වර්ණගිරි |
| | (iii) අවන්ති | C | තක්ෂිලා |
| | (iv) උත්තරාපථ | D | උජ්ජේනි |
| | (v) දක්ෂිණාපථ | E | පාටලිපුත්‍ර |

(1) BADEC (2) BCAED (3) BDCAE (4) EADCB (5) EDCAB (......)

| | X | | Y |
|---|---|---|---|
| **18.** | (i) චන්ද්‍රගුප්ත මෞර්ය | A | නාගර්ජුන |
| | (ii) පුෂ්‍යමිත්‍ර ශුංග | B | කෞටිල්‍ය |
| | (iii) කණිෂ්ක | C | දණ්ඩින් |
| | (iv) සමුද්‍රගුප්ත | D | පතංජලී |
| | (v) දෙවන නරසිංහවර්මන් | E | හරිෂේණ |

(1) BCDAE (2) BDAEC (3) CABED (4) CBEDA (5) CDEAB (......)

| | X | | Y |
|---|---|---|---|
| **19.** | (i) සාංචි | A | බුදු පිළිමය |
| | (ii) මථුරා | B | බිතුසිතුවම් |
| | (iii) නාලන්දා | C | කැටයම් |
| | (iv) අජන්තා | D | ශිව දේවාල |
| | (v) තංජෝර් | E | අධ්‍යාපන ආයතනයක් |

(1) ACDBE (2) ADBCE (3) CAEBD (4) CBEAD (5) CDAEB (......)

| | X | | Y |
|---|---|---|---|
| **20.** | (i) අන්තර්වංශික | A | අන්තඃපුර පාලක |
| | (ii) සමාහර්ත | B | දේශසීමා ආරක්ෂක නිලධාරී |
| | (iii) අන්තපාල | C | භාණ්ඩාගාර අධ්‍යක්ෂ |
| | (iv) දෞවාරික | D | ප්‍රදේශ පාලක නිලධරයා |
| | (v) රජ්ජුක | E | දොරටුපාල |

(1) ABDCE (2) ACBED (3) ADBCE (4) EADCB (5) ECDAB (......)

● අංක **21** සිට **25** තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් එකක් අදාළ මාතෘකාවට නො ගැළපේ. එය තෝරා, ඊට අදාළ අංකය ඉදිරියේ ඇති වරහන තුළ ලියන්න.

**21. ක්‍රි. පූ. හයවන සියවසෙහි ගණ රාජ්‍ය**

(1) ගණ රාජ්‍ය සියල්ලෙහිම පාලකයෝ බුදුසමයේ දැඩි අනුග්‍රාහකයින් වූහ.
(2) ගණ රාජ්‍ය පරිපාලනය පිළිබඳ කටයුතු සන්ථාගාරවල දී තීරණය කළහ.
(3) සභාව පැවැත්වීම සඳහා ගණපූර්ණයක් අවශ්‍ය විය.
(4) බහුතරයේ කැමැත්ත පරිදි තීරණ ගන්නා ලදී.
(5) පවේනි පොත්ථකයට අනුව වැරදිකරුවන්ට දඬුවම් පමුණුවන ලදී. (......)

**22. චන්ද්‍රගුප්ත මෞර්ය සහ සෙලියුකස් නිකේටර් අතර ඇති කරගත් ගිවිසුම**

(1) නිකේටර් විසින් ඒරියා, ඇරකෝසියා, පරොපනිසදෙයි සහ ගෙඩ්‍රෝසියා යන ක්ෂත්‍රප චන්ද්‍රගුප්ත මෞර්යට පවරා දීම
(2) මෙම ප්‍රදේශ පවරාදීමත් සමඟ මෞර්ය අධිරාජ්‍යය ග්‍රීසිය දක්වා ව්‍යාප්ත වීම
(3) චන්ද්‍රගුප්ත මෞර්ය විසින් නිකේටර්ට ඇතුන් 500ක් තෑගි කිරීම
(4) සුහදතාවයේ සංකේතයක් වශයෙන් නිකේටර්ගේ දියණිය චන්ද්‍රගුප්ත මෞර්යට විවාහ කර දීම
(5) නිකේටර් විසින් මෞර්ය රාජ සභාවට මෙගස්තිනිස් තානාපතිවරයකු ලෙස යැවීම (......)

[අනෙක් පිටුව බලන්න

23. මෞර්ය අධිරාජ්‍යයේ පරිහානියට හා බිඳවැටීමට හේතු
 (1) ආර්ථික පරිහානිය
 (2) ප්‍රාදේශීය සහ දේශසීමාබද්ද පාලකයන්ගේ පීඩාකාරී පාලනය
 (3) අශෝකගෙන් පසු දුර්වල පාලකයින් රජවීම
 (4) ඉන්දු - ග්‍රීක ආක්‍රමණ
 (5) අශෝකගේ ආගමික ප්‍රතිපත්තියට එරෙහිව නැගුනු බ්‍රාහ්මණ විරෝධය. (......)

24. හූණයෝ
 (1) පළමුවන හූණ ආක්‍රමණය සිදු වූයේ ස්කන්ධගුප්ත රාජ්‍ය සමයේ දී ය.
 (2) හූණ ආක්‍රමණය පරාජය කිරීමට ස්කන්ධගුප්ත රජු සමත් විය.
 (3) මෙම ආක්‍රමණයට පෙර ද හූණයන් ගුප්ත අධිරාජ්‍යයේ බටහිර ප්‍රදේශ ආක්‍රමණය කොට ඇත.
 (4) අවුරුදු කිහිපයකට පසු තෝරමාණ යටතේ හූණයන් සාර්ථක ලෙස ඉන්දියාව ආක්‍රමණය කළේ ය.
 (5) යශෝධර්මන් විසින් තෝරමාණගේ පුත් මිහිරකුල ඝාතනය කරන ලද බව කියැවේ. (......)

25. කාංචියේ පල්ලවයෝ
 (1) ක්‍රි.ව. 6 වන සියවසේ පළමු කාර්තුවේ දී සිංහවිෂ්ණු විසින් නව පල්ලව රාජවංශයක් පිහිටුවන ලදී.
 (2) පල්ලවයන්ගේ අගනුවර වූ කාංචිය අධ්‍යාපනික හා සංස්කෘතික මධ්‍යස්ථානයක් බවට පත් විය.
 (3) කාංචියේ බෞද්ධ භික්ෂූන් සහ නිගණ්ඨයින් 10,000ක් පමණ සිටි බව හියුං සාං වාර්තා කරයි.
 (4) මහබලිපුරම්හි රථ පළමුවන නරසිංහවර්මන් විසින් සාදවන ලදී.
 (5) ක්‍රි.ව. නවවන සියවස අගදී පාණ්ඩ්‍යයන් විසින් පල්ලව රාජධානිය යටත්කර ගන්නා ලදී. (......)

- අංක 26 සිට 30 තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති (A), (B), (C) හා (D) යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක්** හෝ නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර තෝරා,

 (A) සහ (B) පමණක් නිවැරදි නම් ........................................ 1 ද
 (A) සහ (C) පමණක් නිවැරදි නම් ........................................ 2 ද
 (B) සහ (C) පමණක් නිවැරදි නම් ........................................ 3 ද
 (C) සහ (D) පමණක් නිවැරදි නම් ........................................ 4 ද
 වෙනත් ප්‍රතිචාර සංඛ්‍යාවක් හෝ සංයෝජනයක් හෝ නිවැරදි නම් .............. 5 ද **වරහන තුළ ලියන්න.**

| උපදෙස් සම්පිණ්ඩනය | | | | |
|---|---|---|---|---|
| 1 | 2 | 3 | 4 | 5 |
| (A) සහ (B) පමණක් නිවැරදි ය. | (A) සහ (C) පමණක් නිවැරදි ය. | (B) සහ (C) පමණක් නිවැරදි ය. | (C) සහ (D) පමණක් නිවැරදි ය. | වෙනත් ප්‍රතිචාර සංඛ්‍යාවක් හෝ සංයෝජනයක් හෝ නිවැරදි ය. |

26. මහාභාරතය
 (A) මහාභාරතය සංස්කෘත භාෂාවෙන් ලියන ලද පැරණිතම මහාකාව්‍යවලින් එකකි.
 (B) කෞරවයන් හා පාණ්ඩවයන් අතර පැවති දීර්ඝකාලීන ගැටුම මහාභාරතයට පාදක වී ඇත.
 (C) ව්‍යාස ඍෂිවරයා මහාභාරතයේ කර්තෘ ලෙස විශ්වාස කරනු ලැබේ.
 (D) කුරුක්ෂේත්‍රයේ සිදු වූ සුප්‍රසිද්ධ අවසන් සටනින් යුධිෂ්ඨිර ජයග්‍රහණය කරන ලදී. (......)

27. **කණිෂ්ක**
 (A) කණිෂ්ක කුෂාණ රාජවංශයේ ආරම්භක පාලකයා ය.
 (B) ඔහුගේ රාජ්‍ය සමයේ දී අශ්වඝෝෂ හිමියන්ගේ ප්‍රධානත්වයෙන් හතරවන බෞද්ධ සංගායනාව කුණ්ඩල වනයේදී සිදු කෙරිණි.
 (C) කණිෂ්කගේ රාජසභාව බෞද්ධ භික්ෂූන් කිහිප දෙනෙකුගෙන් ද සමන්විත විය.
 (D) දකුණු ඉන්දියාවට මහායාන බෞද්ධාගම හඳුන්වාදීම පිළිබඳ ගෞරවය කණිෂ්කට හිමි වේ. (......)

**28.** හර්ෂවර්ධන

(A) නර්මදාවෙන් ඔබ්බට ආධිපත්‍ය ව්‍යාප්ත කිරීමට හර්ෂවර්ධන දැරූ උත්සාහය දෙවන පුලකේෂින් විසින් ව්‍යර්ථ කරන ලදී.

(B) මහායාන ධර්මය ප්‍රවර්ධනය කිරීම සඳහා හර්ෂවර්ධන රජු හියුං සාං හිමියන්ගේ ද සහභාගිත්වයෙන් කනෞජයේ සම්මේලනයක් පවත්වන ලදී.

(C) රාජ්‍යවර්ධන මරා දැමීමට පළිගැනීමක් වශයෙන් හර්ෂවර්ධන රජු ගෞඩ පාලක සසංක ඝාතනය කරන ලදී.

(D) හර්ෂවර්ධනගේ මරණයෙන් පසු කනෞජ් රාජධානිය යශෝවර්මන් විසින් අල්ලා ගන්නා ලදී. (......)

**29.** පාණ්ඩ්‍යයෝ

(A) පළමුවන පාණ්ඩ්‍ය අධිරාජ්‍යය ආරම්භ කරන ලද්දේ කඩුන්ගෝන් විසිනි.

(B) දෙවන මාරවර්මන් රාජසිංහ රජු ශ්‍රී ලංකාවේ පාලකයා පරාජය කිරීමට සමත් විය.

(C) දෙවන පාණ්ඩ්‍ය අධිරාජ්‍යය සමයේදී ජටාවර්මන් සුන්දර පාණ්ඩ්‍ය විසින් පාණ්ඩ්‍ය බලය දකුණු ඉන්දියාවේ හිණිපෙත්තටම ගෙන යන ලදී.

(D) චෝලයන් විසින් මධුරා අල්ලා ගැනීමත් සමඟ දෙවන පාණ්ඩ්‍ය අධිරාජ්‍යය අවසන් විය. (......)

**30.** පාලයෝ

(A) පාලයන් බෙංගාලයේ බලයට පැමිණියේ සේන රාජවංශය පළවා හැරීමෙන් අනතුරුව ය.

(B) පාල රජවරු බෞද්ධාගමේ අනුගාමිකයෝ වූව ද හින්දු ආගමට පීඩා නොකළහ.

(C) ධර්මපාල රජු කනෞජයේ පාලක ඉන්ද්‍රායුධ පන්නා දමා චක්‍රායුධ එහි සිහසුන් ගත කළේ ය.

(D) නාලන්දා බෞද්ධ අධ්‍යාපන ආයතනය පිහිටුවන ලද්දේ ධර්මපාල රජු විසිනි. (......)

- අංක **31** සිට **35** තෙක් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**31.** රුද්‍රදාමන් යටතේ පැවතියේ කුමන ක්ෂත්‍රපය ද?

(1) මථුරා (2) මහාරාෂ්ට්‍ර (3) තක්ෂිලා
(4) ගාන්ධාර (5) උජ්ජේනි (......)

**32.** ඩයිමාකොස් තානාපතිවරයෙකු ලෙස කටයුතු කළේ කුමන රජුගේ රාජ්‍ය සභාවේ ද?

(1) චන්ද්‍රගුප්ත මෞර්ය (2) බින්දුසාර (3) අශෝක
(4) කාලාශෝක (5) පුෂ්‍යමිත්‍ර ශුංග (......)

**33.** මෞර්ය පාලන සමයේ උසස්ම අධ්‍යාපන මධ්‍යස්ථානය කුමක් ද?

(1) නාලන්දා (2) තක්ෂිලා (3) මථුරා
(4) වික්‍රමශිලා (5) වලභි (......)

**34.** සංගම් සාහිත්‍යය සමෘද්ධිමත්ව පැවතියේ කුමන රජවරුන්ගේ අනුග්‍රහය යටතේ ද?

(1) චෝළ (2) පල්ලව (3) චාලුක්‍ය
(4) පාණ්ඩ්‍ය (5) රාෂ්ට්‍රකූට (......)

**35.** වාකාටක රාජධානියේ පාලිකාව බවට පත් වූ ගුප්ත කුමාරිකාව කවුරුන් ද?

(1) ප්‍රභාවතී ගුප්තා (2) කුමාරදේවී (3) දේවී චන්ද්‍රගුප්ත
(4) දත්තදේවී (5) කුබේරනාගා (......)

● අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළව ප්‍රකාශ **දෙක** බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා, ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | පළමුවන ප්‍රකාශය | දෙවන ප්‍රකාශය |
|---|---|---|
| 1 | නිවැරදි ය. | වැරදි ය. |
| 2 | නිවැරදි ය. | නිවැරදි ය. |
| 3 | වැරදි ය. | වැරදි ය. |
| 4 | වැරදි ය. | නිවැරදි ය. |
| 5 | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | පළමුවන ප්‍රකාශය | දෙවන ප්‍රකාශය | |
|---|---|---|---|
| 36. | ඍග් වේදයේ දැක්වෙන ස්ථාන නාම අනුව එවකට ජනාවාස පිහිටා තිබුණේ කුරුක්ෂේත්‍රය අවට ප්‍රදේශයේ බව පෙනේ. | පශ්චාද් වෛදික සමයේ දී සංස්කෘතික මධ්‍යස්ථානය බවට පත්වූයේ යමුනා සහ ගංගා නදීවලින් පෝෂණය වූ මධ්‍ය දේශයයි. | (......) |
| 37. | බ්‍රාහ්මණාගමේ දැඩි අනුගාමිකයන් වූ ශුංග පාලකයෝ බෞද්ධයන් පීඩාවට පත් කළහ. | සමුද්‍රගුප්ත රජු යටත් කරගත් දකුණේ රාජ්‍ය 12ක් ඈඳා ගැනීමෙන් ඔහුගේ ආධිපත්‍යය දකුණු ඉන්දියාව තුළ ව්‍යාප්ත කළේ ය. | (......) |
| 38. | චන්ද්‍රගුප්ත මෞර්ය සමයේ දී සෞරාෂ්ට්‍රය පාලනය කළ පුෂ්‍යගුප්ත නමැති යුවරජු විසින් සුදර්ශන ජලාශය ඉදිකරන ලදී. | පසු කාලයේ දී රුද්‍රදාමන් විසින් සුදර්ශන ජලාශය ප්‍රතිසංස්කරණය කරන ලදී. | (......) |
| 39. | දෙවන චන්ද්‍රගුප්ත රජු විසින් මාල්වා, ගුජරාට් සහ සෞරාෂ්ට්‍ර ඈඳා ගැනීමෙන් අධිරාජ්‍ය බලය බටහිර නැව්තොටු දක්වා ව්‍යාප්ත කර ගැනීමට සමත් විය. | බටහිර මුහුදු වෙළෙඳාමේ වැදගත්කම නිසා දෙවන චන්ද්‍රගුප්ත සිය අගනුවර පාටලීපුත්‍රයේ සිට උජ්ජේනි දක්වා මාරු කරන ලදී. | (......) |
| 40. | ගංගා නිම්න ප්‍රදේශයේ තම ජයග්‍රහණ සමරනු වස් පළමුවන රාජරාජ රජු ගංගෛයි කොණ්ඩ නමැති විරුදය භාවිත කළේ ය. | පළමුවන නරසිංහවර්මන් චාලුක්‍යයන්ගේ අගනුවර වූ බදාමිය යටත්කර ගැනීම සමරනු පිණිස වාතාපිකොණ්ඩ යන විරුදය භාවිත කළේ ය. | (......) |

❋❋

# ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
# இலங்கைப் பரீட்சைத் திணைக்களம்

## අ.පො.ස. (උ.පෙළ) විභාගය/ க.பொ.த. (உயர் தர)ப் பரீட்சை - 2022(2023)

විෂය අංකය / பாட இலக்கம் : **25A**

විෂයය / பாடம் : **ඉන්දීය ඉතිහාසය**

## ලකුණු දීමේ පටිපාටිය/புள்ளி வழங்கும் திட்டம்
### I පත්‍රය/பத்திரம் I

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 3 | 11. | 2 | 21. | 1 | 31. | 5 |
| 02. | 4 | 12. | 4 | 22. | 2 | 32. | 2 |
| 03. | 5 | 13. | 5 | 23. | 4 | 33. | 2 |
| 04. | 2 | 14. | 3 | 24. | 5 | 34. | 4 |
| 05. | 2 | 15. | 1 | 25. | 5 | 35. | 1 |
| 06. | 3 | 16. | 1 | 26. | 5 | 36. | 4 |
| 07. | 2 | 17. | 4 | 27. | 5 | 37. | 3 |
| 08. | 3 | 18. | 2 | 28. | 1 | 38. | 2 |
| 09. | 1 | 19. | 3 | 29. | 2 | 39. | 1 |
| 10. | 4 | 20. | 2 | 30. | 3 | 40. | 4 |

◯ විශේෂ උපදෙස්/ விசேட அறிவுறுத்தல் :

එක් පිළිතුරකට/ ஒரு சரியான விடைக்கு 01 ලකුණු බැගින්/புள்ளி வீதம்

මුළු ලකුණු/மொத்தப் புள்ளிகள் 1 × 40 = 40

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022 (2023)

ඉන්දීය ඉතිහාසය II (II කොටස)
இந்திய வரலாறு II (பகுதி II)
History of India II (Part II)

25 A S II

**ඉන්දීය ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා**

උපදෙස්:
* පිළිතුරු සැපයිය යුතු **මුළු** ප්‍රශ්න සංඛ්‍යාව **හතරකි.**
* II කොටස A, B හා C ලෙස කොටස් **තුනකින්** සමන්විත වේ.
* **A කොටසේ** ප්‍රශ්නය අනිවාර්ය වේ.
* B හා C කොටස්වලින් එක් කොටසකින් අවම වශයෙන් **එක** ප්‍රශ්නයක්වත් තෝරා ගෙන **තවත්** ප්‍රශ්න **තුනකට** පිළිතුරු සපයන්න.
(**පළමුවන** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ඉන්දියාවේ දළ සිතියමක් I කොටස** සමඟ සපයා ඇත.)

**A කොටස**

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.**

(i) භාණේශ්වර් (ii) ප්‍රයාග්
(iii) සත්ලෙජ් (iv) වාතාපි
(v) තුංගභද්‍රා (vi) කාවේරි පට්ටන
(vii) මතුරා (viii) තක්ෂිලා
(ix) වින්ධ්‍යා කඳුවැටිය (x) මධුරෙයි
(xi) මහානදී (xii) කාලිංග

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගින්.)*

**B කොටස**

2. "ඉන්දු නිම්න ශිෂ්ටාචාරය නාගරික ශිෂ්ටාචාරයකි".
(i) මෙම ශිෂ්ටාචාරයෙහි ප්‍රධාන නගර **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
(ii) මෙම ශිෂ්ටාචාරයෙහි ප්‍රධාන වරාය **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
(iii) මෙම ශිෂ්ටාචාරයෙහි නගර සැලසුම් පිළිබඳ කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 04යි.)
(iv) "ඉන්දු නිම්න ශිෂ්ටාචාරය යනු නාගරික ශිෂ්ටාචාරයකැ"යි යන ප්‍රකාශය සමඟ ඔබ එකඟ වන්නේ ද? හේතු දක්වන්න. (ලකුණු 08යි.)

3. පශ්චාත් වෛදික යුගයේ ආගමික හා දේශපාලන තත්ත්වයන්හි ප්‍රධාන ලක්ෂණ විස්තර කරන්න. (ලකුණු 16යි.)

4. චන්ද්‍රගුප්ත මෞර්යයගේ කාර්ය සාඵල්‍යය ප්‍රමාණ කරන්න. (ලකුණු 16යි.)

5. පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ කෙටි සටහන් ලියන්න.
(i) වෛදික යුගයේ සමාජය
(ii) ක්‍රි.පූ. හයවන සියවසෙහි ගණ රාජ්‍යය
(iii) මෞර්ය සමයට පෙර මගධයේ දේශපාලන ඉතිහාසය
(iv) තුන්වන ධර්ම සංගායනාව සහ එහි ප්‍රතිඵල

(ලකුණු 08 × 2 = 16යි.)

## C කොටස

6. මෞර්ය අධිරාජ්‍යය බිඳ වැටීමෙන් පසුව වයඹදිග ඉන්දියාවේ විදේශ ආධිපත්‍යය පිහිටුවීම පිළිබඳව විස්තර කරන්න. (ලකුණු 16යි.)

7. පහත දැක්වෙන තේමා යටතේ ගුප්ත සමයේ සංස්කෘතික අභිවර්ධනය පරීක්ෂා කරන්න.
   (i) භාෂාව සහ සාහිත්‍යය
   (ii) ආගම
   (iii) කලාව සහ ගෘහ නිර්මාණය (ලකුණු 16යි.)

8. පහත දැක්වෙන ශීර්ෂ යටතේ චෝළ ආධිපත්‍යයෙහි ව්‍යාප්තිය පැහැදිලි කරන්න.
   (i) ක්‍රි.ව. නවවන සියවසේදී දකුණු ඉන්දියාවේ චෝළ ආධිපත්‍යය ස්ථාපිත කළ ආරම්භක පාලකයා නම් කරන්න. (ලකුණු 01යි.)
   (ii) චෝළ ආධිපත්‍යය යටතේ පැවති මණ්ඩල **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
   (iii) පළමුවන රාජරාජ සහ පළමුවන රාජේන්ද්‍ර රජවරුන්ගේ කාර්ය සාඵල්‍යය අගයන්න. (ලකුණු 09යි.)
   (iv) චෝළ අධිරාජ්‍යයේ පරිහානිය පිළිබඳ සංක්ෂිප්ත විස්තරයක් සපයන්න. (ලකුණු 04යි.)

9. පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ කෙටි සටහන් ලියන්න.
   (i) කුෂාණ සමයේ බුද්ධදහම
   (ii) සාතවාහනයින් යටතේ ඩෙකානය
   (iii) සමුද්‍රගුප්තගේ යුද ප්‍රයාන
   (iv) ත්‍රිකෝණ අරගලය (ලකුණු 08 × 2 = 16යි.)

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022 (2023)

| ඉන්දිය ඉතිහාසය II<br>இந்திய வரலாறு II<br>History of India II | 25 A | S |
|---|---|---|

| ප්‍රශ්න අංකය<br>வினா இல.<br>Question No. | 1 |
|---|---|

| විභාග අංකය<br>சுட்டெண்<br>Index No. | ........................ |
|---|---|

N

තක්ශිලා

සට්ලෙජ්

තානේශ්වර්

ප්‍රයාග

වින්ධ්‍යා කඳුවැටිය

මහානදී

කාලිංග

වාතාපි

තුංගභද්‍රා

කාවේරි පට්ටන

මධුරෙයි



# අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය - 2022(2023)

## ඉතිහාසය II (II කොටස)

## ඉන්දීය ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා

උපදෙස්:
පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව හතරකි.

- II කොටස A, B හා C ලෙස කොටස් තුනකින් සමන්විත වේ.
- A කොටසේ ප්‍රශ්නය අනිවාර්ය වේ.
- B හා C කොටස්වලින් එක් කොටසකින් අවම වශයෙන් එක ප්‍රශ්නයක්වත් තෝරා ගෙන තවත් ප්‍රශ්න තුනකටත් පිළිතුරු සපයන්න.
- (පළමුවන ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා ඉන්දියාවේ දළ සිතියමක් I කොටස සමග සපයා ඇත.)

## A කොටස

(1) ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.

(i) තානේශ්වර් (ii) ප්‍රයාග්
(iii) සත්ලෙජ් (iv) වාතාපි
(v) තුංගභද්‍රා (vi) කාවේරි පට්ටන
(vii) මක්‍රාන් (viii) තක්ෂිලා
(ix) වින්ධ්‍යා කඳුවැටිය (x) මධුරෙයි
(xi) මහානදී (xii) කාලිංග

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු 01 බැගිනි.)*

## B කොටස

(2) **"ඉන්දු නිම්න ශිෂ්ටාචාරය නාගරික ශිෂ්ටාචාරයකි."**

**(i) මෙම ශිෂ්ටාචාරයෙහි ප්‍රධාන නගර දෙකක් නම් කරන්න.**

මොහෙන්ජොදාරෝ, හරප්පා, චන්හුදාරෝ, ලෝතාල්, කලිබන්ගන්, සන්දවාලා, ධොලවීර, බනවාලි, රඛිසාර්හි, ජුඩෙයිජොදාරෝ, සුක්තජෙන්දෝර්, දාබර්කොට්, රූපාර්

*(ලකුණු 02 යි)*

(ii) මෙම ශිෂ්ටාචාරයෙහි ප්‍රධාන වරාය දෙකක් නම් කරන්න.

- ලෝතාල්, සුක්තජෙන්දෝර්, සොට්කා-කොහ්, රංග්පූර්,

(ලකුණු 02 යි)

(iii) මෙම ශිෂ්ටාචාරයෙහි නගර සැලසුම් පිළිබඳ කෙටියෙන් පැහැදිලි කරන්න.

- පූර්ව සැලැස්මකට අනුව නගර සකස් කිරීම.
  නගර සැලසුමේදී, සෑම නගරයකටම පොදු සමානාත්මතාවයකින් යුතුව සකස් කිරීම.
- ප්‍රාදේශීය නගරද සැලසුම් සහගතව ඉදි කිරීම (කලිබන්ගන්, චන්හුදාරෝ, රූපාර්).
  නගර සැලසුමේදී ඇතුල්නුවර හා පිටිනුවර ලෙස කොටස් දෙකකින් සමන්විත වීම.
- ඇතුල්නුවර ගොඩනැගිලි උස් වේදිකාවක් මත ඉදිකර තිබීම. එම නුවර පරිපාලන මධ්‍යස්ථානය ලෙස භාවිතා කිරීම.
- නගරය වටා මුර අට්ටාල සහිත ප්‍රාකාරයක් ඉදිකර තිබීම. බලකොටු ස්වරූපයක් දැකිය හැකිවීම.
- මහල් සහිත ගොඩනැගිලි නිර්මාණය කිරීම.
- සෑම නිවසක්ම ළිඳකින් හා නාන කාමර ඇතුළුව වෙනත් සෞඛ්‍ය පහසුකම්වලින් යුක්ත වීම.
- ඇතැම් නිවාසවල විවෘත මැද මිදුලක් දක්නට ලැබීම.
- නිවාසවලට පිවිසෙන දොරටු ප්‍රධාන මාර්ගයට මුහුණලා ඉදිකොට නොතිබීම.
- ආයත චතුරාශ්‍රාකාර සැලැස්මකට අනුව නගර ඉදිකිරීම.
- විශාල නගර ඇතුළත පුළුල් මංමාවත් නිර්මාණය කිරීම හා එම මාර්ග සැලසුමකට අනුව රේඛානුකූලව විහිදුණු මාර්ග පද්ධතියක් වශයෙන් සකස් කොට තිබීම.
- වීථි නිර්මාණය සෘජුකෝණාශ්‍රාකාර අයුරින් සිදු කර තිබීම.
- දියුණු සෞඛ්‍ය හා සනීපාරක්‍ෂක ක්‍රම භාවිතා කරමින් මනා ජලාපවාහන හා මළප්‍රවාහන පද්ධතියක් සකස් කර තිබීම.
- ප්‍රධාන මාවත්වලට දෙපසින් කාණු පද්ධතියක් ඉදිකර තිබීම.
- සෞඛ්‍ය සම්පන්නබවට මුල් තැන දෙමින් නගර සැලැසුම් කිරීම.

➢ කම්කරු නිවාස වෙනම ඉදිකොට තිබීම හා ඒවා ධාන්‍යාගාරයට ආසන්නව පිහිටා තිබීම.

(ලකුණු 04 යි)

(iv) 'ඉන්දුනිම්න ශිෂ්ටාචාරය නාගරික ශිෂ්ටාචාරයකැ'යි යන ප්‍රකාශය සමඟ ඔබ එකඟ වන්නේ ද හේතු දක්වන්න

නාගරික ශිෂ්ටාචාරයක දක්නට ලැබෙන ලක්‍ෂණ ඉන්දුනිම්න ශිෂ්ටාචාරයෙන් හඳුනා ගෙන ඇති බැවින්, එම ශිෂ්ටාචාරය නාගරික ශිෂ්ටාචාරයක් ලෙස සැලකේ. එම ලක්ෂණ මෙසේය:

- මනා සැලසුමකින් යුතු මහා පරිමාණයේ නගර බිහිවීම (මොහෙන්ජොදාරෝ, හරප්පා, ධොලවීර).
- සියලු නගරවල නිර්මාණ සැලසුම එක හා සමාන වීම (පවුර, බලකොටු සහිත ප්‍රදේශය, වාසස්ථාන පැවති ප්‍රදේශය, මාර්ග පද්ධතිය, ජල ප්‍රවාහන ක්‍රම).
- විශාල ගොඩනැගිලි දක්නට ලැබීම (මොහෙන්ජොදාරෝවේ ස්නානාගාරය, හරප්පාවේ ධාන්‍යාගාරය, විථී ආලෝක කුලුණු, රබිගාර්හි විශාල ස්නානාගාරය).
- ගොඩනැගිලි ඉදිකිරීම සඳහා ප්‍රධාන වශයෙන් ගඩොල් භාවිතා කිරීම (පිළිස්සූ හා හිරු එළියෙන් වේලාගත්)
- කෘෂිකර්මයේ අතිරික්තය භුක්තිවිඳින පාලක හා පූජක පන්තියක් සිටීම.
- මනා පාලන සංවිධානයකින් යුක්තවීම.
- සංකීර්ණ සමාජයක් පැවතීම (ස්ථර වශයෙන් විවිධ ජන කොටස් - පාලක, පූජක, ප්‍රභූ පන්තිය, නාගරික ජනතාව, වෙළෙන්දන්, කම්කරුවන්, විවිධ වෘත්තිකයන්). ප්‍රභූ පන්තිය සහ කම්කරුවන් සඳහා නිවාස වෙන් කොට තිබීම.
- ආර්ථිකයේ ප්‍රධාන අංශය කෘෂිකර්මාන්තය වීම.
- අභ්‍යන්තර හා බාහිර වෙළෙඳාම (සුමේරියාව දක්වා) - වරායන්, කිරුම්මිනුම් ක්‍රම.
- ලෝහ භාවිතය (රන්, රිදී, තඹ, ලෝකඩ, යකඩ භාවිතයෙන් ආභරණ හා මූර්ති නිපැයුම)
- රූපාක්ෂර සහිත ලේඛන ක්‍රමයක් තිබීම.
- කලාව (චිත්‍ර, මූර්ති, මුද්‍රා).
- ගමනාගමනය
- විනෝදාංශ (රිය ධාවනය, දාදු ක්‍රීඩාව, දඩයම).

***(ලකුණු 08 යි)***

**(3) පශ්චාත් වෛදික යුගයේ ආගමික හා දේශපාලන තත්ත්වයන්හි ප්‍රධාන ලක්ෂණ විස්තර කරන්න.**

<u>ආගමික තත්ත්වය</u>

- ඍග් වෛදික යුගයේ ප්‍රමුඛත්වයට පත්ව සිටි ඉන්ද්‍ර, වරුණ, මාරුත්, අග්නි, සාවිත්‍රි, උෂස්, වායු, සෝම වැනි දේව ගණයා කෙරෙහි පැවති දැඩි භක්තිය අඩුවීම.
- මෙතෙක් පැවති බහුදේවවාදී ආගමික සංකල්පය මෙකල ඒකදේවවාදී සංකල්ප කරා නැඹුරුවීම.

- ලොව මැවීම සිදු කරන ලැබුවේ යැයි සලකන ලද 'ප්‍රජාපතී' මේ අවධියේදී ප්‍රධාන දෙවියා බවට පත්වීම.
- යන්ත්‍රමන්ත්‍ර ගුරුකම් කෙරෙහි මෙන්ම භූත බලවේග පිළිබඳ විශ්වාසය තැබීමට යොමුවීම (අථර්වන් වේදය).
- ඍග් වෛදික යුගයේ පැවති සරල යාග පූජා විධි මෙකල මහා පරිමාණ යාග හෝම දක්වා වර්ධනය වීම (පුරුෂමේධ යාගය, අශ්වමේද යාගය).
- පූජක පන්තියක් ලෙස බ්‍රාහ්මණයන්ගේ බලය ඉහළ ගිය අතර බ්‍රාහ්මණයා, පොළව මත හැසිරෙන දෙවියන් හෙවත් 'භූසුරු' ලෙස සැලකීම.
- ආරණ්‍යක හා උපනිෂද් වැනි යුගයන් කරා ළඟාවත්ම බ්‍රාහ්මණ සංකල්පයට විරුද්ධ ශ්‍රමණ සම්ප්‍රදාය ඉදිරියට ඒම හා ඥාණ මාර්ගයට අවතීර්ණය වීම.
- ලෝකය, විශ්වය, ජීවිතය, ආත්මය, මරණය, මරණින් මතු ලෝකය වැනි ගැඹුරු දාර්ශනික කතිකාවන් මතුවීම හා විවාද ඇතිවීම.
- වර්ණාශ්‍රම ධර්ම ප්‍රබලව ක්‍රියාත්මකවීම.

<u>දේශපාලන තත්ත්වය</u>

- ගෝත්‍රික තත්ත්වය ඉක්ම වූ පාලන තන්ත්‍රයක් කරා පැමිණීම (රාජන්). ඓතරේය බ්‍රාහ්මණයට අනුව පෙරදිග රජවරුන් **'සම්‍රාට්'**, දකුණේ රජවරුන් **'භෝජ'**, උතුරේ රජවරුන් **'විරාට්'**, මධ්‍යම ප්‍රදේශයේ රජවරු **'රාජන්'** ලෙසින් හඳුන්වා තිබීම.
- අශ්වමේද හා රාජසූය වැනි මහා යාග හා චාරිත්‍ර මගින් පාලකයන්ගේ බලය වර්ධනය වීම.
- සමිති හා සභා මෙකලද එලෙසම පැවතීම.
- රජුට සහය දක් වූ නිලධාරීන් පන්තියක් සිටීම (රත්තීන් හෙවත් රාජකෘත්).
  පුරෝහිත, සේනානි, ග්‍රාමිණී, භාගදූත, සූත, සංගෘහිතෘ (භාණ්ඩාගාරික), අක්ෂවාම් (දූ කෙළිනායක), ක්ෂත්‍රී, ගොවිකර්තන, පාලාගල (දූතයා) වැනි නිලධාරීන් පිරිසක් පාලනයට සහය දක්වීම.
- රජුට ගෙවිය යුතු බදු (බලි) වැසියන් සිය නිෂ්පාදනයෙන් හෝ ගවයන්ගෙන් ගෙවීම.

***(ලකුණු 16 යි)***

**(4) චන්ද්‍රගුප්ත මෞර්යගේ කාර්ය සාඵල්‍යය ප්‍රමාණ කරන්න.**

- චන්ද්‍රගුප්ත මෞර්යගේ රාජ්‍ය කාලය (ක්‍රි. පූ. 324- 300)
- මෞර්ය අධිරාජයේ ආරම්භකයා හා ඉන්දීය ඉතිහාසයේ අධිරාජ්‍ය සංකල්පය සාර්ථක කරගත් ප්‍රථම පාලකයා වීම.

- නන්ද පාලකයෙකුට දාව මුරා නම් තැනැත්තියකගේ කුසින් මොහු උපත ලද බව පුරාණ ග්‍රන්ථවල සඳහන් වන අතර පිප්ඵලි වනයේ මෝරිය ගෝත්‍රිකයෙකු බවට මතයක් පැවතීම.
- ග්‍රීක මූලාශ්‍ර මොහු 'සන්ද්‍රකොට්ටස්' නමින් හඳුන්වා තිබීම.
- චානක්‍යගේ (විෂ්ණුගුප්ත, කෞටිල්‍ය) උපදෙස් මත නන්ද පාලනය අවසන් කොට මගධයේ බලය ලබා ගැනීම.
- වයඹදිග ඉන්දියාව ග්‍රීක බලයෙන් මුදා ගැනීම. සෙලියුකස් නිකේටර් සමඟ සටන් කිරීම හා චන්ද්‍රගුප්ත මෞර්ය හා ඔහු අතර ගිවිසුමක් ඇතිවීම.
  එමගින් ඒරියා (හේරාට්), ඇරකෝෂියා (කන්දහාර්), පරෝපනිෂදායි (බලූකිස්තාන්), ගෙඩ්රෝෂියා (කාබුල්) යන ප්‍රදේශ චන්ද්‍රගුප්තට හිමිවීම හා එබැවින් පර්සියානු මායිම දක්වා ඔහුගේ අධිරාජ්‍යය ව්‍යාප්තවීම.
- චන්ද්‍රගුප්ත රජු ඇතුන් 500ක් සෙලියුකස් නිකේටර්ට ලබාදීම හා සෙලියුකස් නිකේටර් තම දියණිය චන්ද්‍රගුප්තට විවාහ කරදීම.
- මෙගස්තිනීස් තානාපතියෙකු ලෙස මෞර්ය අධිරාජ්‍යය වෙතට එවීම.
- අධිරාජ්‍යයේ බලය ඩෙකෑන් හා දකුණ දක්වා ව්‍යාප්තවීම.
  ඔහුගේ අධිරාජ්‍යයට බටහිරින් පිහිටි කතියවාර් අර්ධද්වීපයේ සුරාෂ්ට්‍රදේශය පවා අයිති වූ බව රුද්‍රදාමන්ගේ ජුනගාද් ලිපියෙන් සනාථ වීම. ඔහු එහි පාලකයා බවට පත්වීම හා සුදර්ශන විල ප්‍රතිසංස්කරණය කරවීම.
- විදේශ සම්බන්ධතා පැවැත්වීම (සිරියාව, ඊජිප්තුව සමඟ).
- ගොඩබිම් හා මුහුදු මාර්ග ඔස්සේ වෙළෙඳාම පවත්වා ගෙන යාම.
- මනා පරිපාලන සංවිධානයක් ඇති කිරීම.
  - මධ්‍යපාලනය (මන්ත්‍රී පර්ෂද්, අමාත්‍ය, මහාමාත්‍ය, අධ්‍යක්‍ෂ, පුරෝහිත, යුවරාජ, සේනාපති)
  - ප්‍රාන්ත පාලනය (තක්ෂිලා, තෝසලී, ස්වර්ණගිරි, උජ්ජේනි, ප්‍රාච්‍ය)
  - නාගරික පාලනය (පාටලීපුත්‍ර: සාමාජිකයන් 5 දෙනෙකුගෙන් සමන්විත කමිටු 6 පැවති බව)
  - ග්‍රාම පාලනය (ග්‍රාමික, ගෝප)
- කෘෂිකර්මාන්තය දියුණු කිරීම (වාරි මාර්ග)

***(ලකුණු 16 යි)***

(5) පහත දැක්වෙන මාතෘකා අතුරෙන් දෙකක ඓතිහාසික වැදගත්කම පිළිබඳ කෙටි සටහන් ලියන්න.

*(ලකුණු 08 x 2 = 16යි)*

(i) වෛදික යුගයේ සමාජය

- ගෝත්‍ර මූලික සමාජයක් පැවතීම (පුරු, යදු, තුර්වාස, අනු, භරත).
- පිතෘ මූලික සමාජයක් වීම.
- කෘෂිකර්මාන්තය අර්ථ ක්‍රමයේ ප්‍රධාන අංශයක්ව පැවතීම.
- සිරිත් විරිත් ආරක්ෂා කිරීම.
- ආගන්තුක සත්කාරය උසස්ම ගුණාංගයක් සේ සැලකීම.
- නිවාස දැවයෙන් හා උණ ලී ආදියෙන් තනා, පිදුරු සෙවිලි කොට තිබීම.
  යාඥා කාමරය, ස්ත්‍රී කාමරය, පොදු කටයුතු සඳහා කාමරය, ගිනිහල්ගෙය යන අංග හතරකින් නිවාස සමන්විත වීම.
- ඒක විවාහ ක්‍රමය පැවතුනද බහු ස්ත්‍රී සේවනයද පැවතීම.
- විවාහ මංගල්‍ය උත්සවය මහත් ගරුසරු එකක් සේ සැලකීම.
- පිරිමි දරුවන් ලැබීම විවාහයේ ප්‍රධාන පරමාර්ථය වීම.
- කාන්තාවන්ට නිදහස හිමිව තිබීම.
  භාර්යාව, ස්වාමියා සමග පූජාවන්ට සහභාගීවීම.
  උගත් කාන්තාවන් සිටීම (අපාලා, විශ්වචාරා, ඝෝෂා)
- වර්ණභේදය පැවතුනද එය සමාජයේ තහවුරුවී නොතිබීම හා ආර්ය-අනාර්ය භේදය පැවතීම.
- භාවිත කළ ඇඳුම් කොටස් හතරකින් යුක්තවීම (නිවි, වාස, අධිවාස, හිස්වැස්ම).
- ස්ත්‍රී පුරුෂ දෙපක්ෂයම ආභරණ පැළඳීම (කර්ණ සොභන, කුරිර, නෙෂ්කාචානි, නිෂ්ක).
- පිරිමින් හිස් ආවරණය කර සිටීම.
- ප්‍රධාන ආහාර ලෙස ධාන්‍ය වර්ග, මස්, මාළු, කිරි, කිරිවලින් සෑදූ ආහාර, පළතුරු පරිභෝජනය සිදුකොට තිබීම.
- සෝම පානය ඇතුළු සුරාව පැවතීම.
- උත්සව අවස්ථාවලදී නැටුම් ගැයුම් දක්නට ලැබීම.
- සමාජ ජීවිතයේ කේන්ද්‍රය වූයේ 'සභා' වීම.
- රථ ධාවනය, දඩයම, දාදු ක්‍රීඩාව විනෝදාංග ලෙස පැවතීම.
- විවිධ ස්වභාවික වස්තු දේවත්වයෙහිලා වන්දනා කිරීම හා සරල යාග විධි පැවතීම.

*(ලකුණු 08 යි)*

### (ii) ක්‍රි. පූ. හයවන සියවසෙහි ගණ රාජ්‍යය

- ක්‍රි. පූ. හයවන සියවසෙහි ඉන්දියාවේ සොළොස් මහා ජනපද තුළ ක්‍රියාත්මක වූ පාලන ක්‍රම දෙක වූයේ රාජාණ්ඩු පාලන ක්‍රමය හා ගණ රාජ්‍යය (සමූහාණ්ඩු) පාලන ක්‍රමයයි.
- වජ්ජි හා මල්ල කැපී පෙනෙන සමූහාණ්ඩු වේ.
- බෞද්ධ සාහිත්‍යයේ ගණ රාජ්‍ය 9ක් පිළිබඳව සඳහන් වේ (කපිලවස්තුවේ ශාක්‍යයන්, වෛශාලියේ ලිච්ඡවීන්, මිථිලාවේ විදේහයන්, රාමග්‍රාමයේ කෝලියවරුන්, කුසිනාරාහි පාවාහි මල්ලයන්, අල්ලකප්පයේ බුලිවරු, කේසපුත්තයේ කාලාමයන්, පිප්ඵලිවනයේ මෝරියවරුන්, සුංසුමාරගිරියේ භග්ගයන්).
- මේවායේ රාජ්‍ය ප්‍රධානීන් ගණපති, ගණ ජ්‍යෙෂ්ඨ හා ගණ රාජන් යන නම්වලින් හැඳින්වේ.
- මෙහි පාලනය නියෝජිතයන් රැසකගෙන් සැදුම්ලත් සභාවක් මඟින් සිදුවිය. ලිච්ඡවී සමූහාණ්ඩුවේ රජවරු 7707 ක් සිටි බව බෞද්ධ සාහිත්‍යයේ සඳහන් වේ.
- පාලක මණ්ඩලය රැස් වූ ශාලාව 'සන්ථාගාර' (කූඨාගාර ශාලා) නම් විය.
- පාලන ප්‍රතිපත්ති සප්ත-අපරිහාණි ධර්ම නම් ආචාරධර්ම හතක් අනුව සැකසී තිබිණි.
- බුදුරාජාණන් වහන්සේ පවා වජ්ජි රාජ්‍යයේ පැවති සප්ත-අපරිහාණි ධර්ම අගය කළහ.
- 'ප්‍රවේණි පුස්තක' අනුව රාජ්‍යයේ අධිකරණ කටයුතු සිදුකරනු ලැබීය.
- චන්ද්‍රගුප්ත මෞර්ය රාජ සමයේදී ගණ රාජ්‍ය මුලිනුපුටා දැමීම සිදු විය.

*(ලකුණු 08 යි)*

### (iii) මෞර්ය සමයට පෙර මගධයේ දේශපාලන ඉතිහාසය

- ක්‍රි. පූ. හයවැනි සියවසේදී හර්යංක පෙළපතට අයත් බිම්බිසාර රජු යටතේ මගධයේ නැගීම.

  (යුද්ධ බලයෙන්: අංග / විවාහ සම්බන්ධතා: කෝසල, ලිච්ඡවි / සුහද සබඳතා: ගන්ධාර)

  අජාසත්ත රජු යටතේද රාජ්‍ය බලය වර්ධනයවීම (කෝසල හා ලිච්ඡවි රාජ්‍ය සමග යුද්ධ)
- හර්යංක පෙළපතට පසු මගධයේ බලයට පත් වන්නේ සිසුනාග රාජවංශයයි. සිසුනාග විසින් අවන්තිය යටත් කර ගැනීම.
- සිසුනාග රාජවංශය පරාජය කරමින් නන්දවරු රජවිය.
- මෙලෙස බලය අල්ලාගත් නන්ද රාජවංශයේ පළමු පාලකයා මහපද්මනන්දය. බෞද්ධ සාහිත්‍යයේ මොහු උග්ගසේන යනුවෙන් හඳුන්වා ඇත.

- මොහු පංචාල, කාසි, හෛහය, කාලිංග, අශ්මක, කුරු, ඉක්ෂ්වාක, මෛථිල, සූරසේන, විතිහෝත්‍ර යන වංශ යටත් කරගෙන මගධයට ඈඳා ගත් බව පුරාණ ග්‍රන්ථවල සඳහන් වේ.
- නන්ද පාලකයන් 9 දෙනෙක් සිටි බව බෞද්ධ සාහිත්‍යයේ සඳහන් වේ.
- නන්ද පාලන අවධියේදී වයඹ දිග ඉන්දියාව ඇලෙක්සැන්ඩර් විසින් ආක්‍රමණය කිරීම.
- ශක්තිමත් හමුදාවක් පැවති ධනනන්ද පරාජය කර, චන්ද්‍රගුප්ත මෞර්ය බලයට පත්වීම.

*(ලකුණු 08 යි)*

**(iv) තුන්වන ධර්ම සංගායනාව සහ එහි ප්‍රතිඵල**

- ක්‍රි. පූ. 3 වන සියවසේ (බුද්ධ පරිනිර්වාණයෙන් වසර 236 කට පසු) අශෝක අධිරජුගේ අනුග්‍රහයෙන් පැවැත්වීම.
- මොග්ගලීපුත්ත තිස්ස මහරහතන් වහන්සේගේ ප්‍රධානත්වයෙන් පැළලුප් නුවර අශෝකාරාමයේදී රහතන් වහන්සේ 1000ක සහභාගීත්වයෙන් මාස නවයක් පුරා පැවැත්වීම.
- මේ පිළිබඳව කිසිදු ඉන්දියානු මූලාශ්‍රයක සඳහන් නොවීම හා මේ ගැන ලාංකේය මූලාශ්‍රවල පමණක් කරුණු සඳහන්වීම. මේ සිද්ධිය තහවුරු කෙරෙන පුරාවිද්‍යාත්මක සාධක දෙරටින්ම හමුවීම (සාංචියේ හා සෝනාරියේ ධාතු කරඬු, මිහින්තලේ සහ රජගල ලිපි).
- අශෝක රජු දවස බුදුදහමේ උන්නතියට මෙන්ම භික්ෂූන්ට අවශ්‍ය පහසුකම් ලැබෙන බව දුටු අන්‍යාගමිකයන් ලාභ සත්කාර අපේක්ෂාවෙන් ශාසනයට ඇතුල්වීමෙන් ශාසනික පරිහානියක් ඇතිවීම.
- මේ තත්ත්වයෙන් ශාසනය මුදවා ගැනීමට තුන්වන ධර්ම සංගායනාව පැවැත්වීම සහ සංඝ ශෝධනයක් කර දුසිල්වත් භික්ෂූන් හැට දහසක් ශාසනයෙන් නෙරපා දැමීම.

<u>තුන්වන ධර්ම සංගායනාව ප්‍රතිඵල:</u>

- මොග්ගලීපුත්ත තිස්ස මහරහතන් වහන්සේ අන්‍ය නිකායික මත 500ක් ඛණ්ඩනය කරමින් ථෙරවාදී මත තහවුරු කරමින් කථාවත්ථුප්පකරණය නම් අභිධර්ම ග්‍රන්ථය රචනා කිරීම. එයින් ත්‍රිපිටකය සම්පූර්ණවීම.
- බුදුදහම ප්‍රචාරය සඳහා රජුගේ අනුග්‍රහයෙන් රටවල් 9කට ධර්මදූතයන් වහන්සේ පිටත් කර හැරීම.
- පොහොය කර්මාදිය සිදු කිරීමට නැවත අවස්ථාව සැලසීම.

*(ලකුණු 08 යි)*

# C කොටස

(6) මෞර්ය අධිරාජ්‍යය බිඳ වැටීමෙන් පසුව වයඹදිග ඉන්දියාවේ විදේශ ආධිපත්‍යය පිහිටුවීම පිළිබඳව විස්තර කරන්න.

මෞර්ය අධිරාජ්‍යය බිඳ වැටීමෙන් පසු සියවස් තුනක් පමණ කාලයක් ඉන්දු-ග්‍රීක (යවන), පාර්තියන්වරු (පහ්ලව), ශක (සිතියන්වරු), කුෂාණ ආදී විදේශ රාජවංශ වරින්වර වයඹදිග දුර්ග හරහා පැමිණ බලය ව්‍යාප්ත කිරීම දක්නට ලැබිණි.

ඉන්දු ග්‍රීකයන්

- මෞර්ය අධිරාජ්‍යය අවසාන කාලයේ සිට ග්‍රීකයන් වරින්වර ඉන්දියාවට පැමිණි අතර පශ්චාත් මෞර්ය යුගයේදී ඉන්දියාවේ පැවති දේශපාලන අස්ථාවරත්වය මත ඔවුන් ඉන්දියාව ආක්‍රමණය කිරීම.
- සිරියාවේ ඇන්ටියෝකස් රජු හින්දුකුෂ් කඳුවැටිය තරණය කර කාබුල් නිම්නයට ඇතුල්වී සුභගසේන රජුගෙන් කප්පම් ලෙස ඇත් හමුදාවක් ලබාගැනීම හා පංජාබය හා බටහිර ඉන්දියාවේ ප්‍රදේශ කීපයක් අල්ලා ගැනීම.
- ඩිමෙට්‍රියස් එල්ල කළ ආක්‍රමණයෙන් පංචාල හා සාගල අල්ලා ගැනීම.
- මිනැන්ඩර්ගේ ආක්‍රමණයෙන් ඉන්දියාවේ විශාල ප්‍රදේශයක් අත්පත් කර ගැනීම.
  (මොහු සියල්කෝට් (සාගල, සාකල) අගනුවර කරගනිමින් ගංගානම් නදියේ සිට ඔක්සස් නදී නිම්නය දක්වාත් හිමාලයේ සිට නර්මදා නදිය තෙක්ද බලය පැතිරවීම. මිනැන්ඩර් රජු බුදුදහමට අනුග්‍රහ දැක්වීම. මිනැන්ඩර් රජුට අයත් කාසි විශාල ප්‍රමාණයක් හමු වී තිබීම (තක්ෂිලා, පෙෂාවෝර්, රාවල්පිණ්ඩි).
- මිනැන්ඩර්ගෙන් පසුව ග්‍රීක බලය පරිහානියට පත්විය. ඔහුගෙන් පසු ග්‍රීක පාලකයන් වූයේ යුක්‍රාටයිඩීස් හා හර්මයියෝස්ය.

ශක (සිතින්වරු)

- මධ්‍ය ආසියාවේ සිට බෝලාන් දුර්ගය හරහා පැමිණි ගෝත්‍රික පිරිසක් වූ ශකවරු ක්‍රිස්තු පූර්ව පළමු හා දෙවන සියවස්වල වයඹදිග ඉන්දියාවේ බලය පැතිර වීය.
- ප්‍රථම ශක පාලක මාවුස් (මෝග) රජු තක්ෂිලාව මුල්කොට ගෙන පාලනය ගෙන යෑම.
- ශක පාලකයන් අතර බලවතෙකු වූ නහපාන විසින් මාල්වා දක්වා බලය පැතිරවීම.
- ශක පාලක චස්ටන, උජ්ජෙයිනි දක්වා බලය ව්‍යාප්ත කිරීම.

- මහා ශත්‍රප රුද්‍රදාමන් මෙහි ශ්‍රේෂ්ඨතම රජු විය. ජූනගාද් ලිපියට අනුව ඔහු දෙවරක්ම සාතවාහනයන් පරාජය කර ඇති අතර මාල්වා, කතියවාර්, ගුජරාට, මාර්වාර්, උතුරු කොන්කානය හා ඉන්දු නිම්නය දක්වා සිය බලය පැතිරවීම.
- ඔහුගෙන් පසු ශක පාලනය දුර්වල වීම
- මොවුන් සිය පාලන ප්‍රදේශ ක්ෂත්‍රප නම් ඒකකවලට බෙදා පාලනය ගෙන යාම.

පාර්තිය (පහ්ලව)

- ශකවරු පරදවා තක්ෂිලාව මුල් කරගෙන පාර්තියන්වරුන් රාජ්‍යයක් පිහිටු විය.
- මිත්‍රඩේට්ස් ඉන්දුනිම්නය දක්වා බලය ව්‍යාප්ත කළේය.
- වයඹදිග ඉන්දියාවේ බලය ව්‍යාප්ත කළ ප්‍රථම පාලකයා වූයේ ගොණ්ඩොපර්නීස් රජුය.
- මොහුගෙන් පසුව දුර්වල වූ පාර්තිය රාජ්‍යය කුෂාණයන් විසින් අල්ලා ගෙන ඇත.

කුෂාණවරු

- පාර්තියවරුන් පරාජය කර කුෂාණ පාලක කුජුල කැඩ්පයිසීස් වයඹදිග ඉන්දියාව අල්ලා ගැනීම.
- වීම කැඩ්පයිසීස් තක්ෂිලා හා පංජාබය අල්ලා ගැනීම.
- ශ්‍රේෂ්ඨතම පාලකයා වූ කණිෂ්ක රජු විසින් පුරුෂපුරය අගනුවර කරගෙන වයඹදිග ඉන්දියාවේ අධිරාජ්‍යයක් පිහිටුවීම.
- කාශ්මීරය, රාජ්පුතානා, මාල්වා, උත්තර ප්‍රදේශ, ශ්‍රාවස්ති, කතියවාර් ප්‍රදේශය, නැගෙනහිර ඉන්දියාවේ බෙංගාලය, ඔරිස්සා, බිහාර්, නේපාලය, බරණැස දක්වා, ඇෆ්ගනිස්ථානය හා මධ්‍ය ආසියාවේ යාර්ඛාණ්ඩ්, කැෂ්ගාර්, ඛෝටාන් දක්වාත් බටහිර ඉන්දියාවේද බලය ව්‍යාප්ත කිරීම.
- බෞද්ධාගමට අනුග්‍රහ දැක්වීම (හතරවන ධර්ම සංගායනාව, මහායානයේ නැඟීම, ගන්ධාර කලාව, බුද්ධදහම මධ්‍යාසියාවේ ව්‍යාප්ත කිරීම).
- කණිෂ්කට පසුව හුවිෂ්කද ඉන්පසුව වාසුදේවද රජ විය.
- විදේශ ජන කණ්ඩායමක් වුවද ඉන්දිය සංස්කෘතියට විශාල අනුග්‍රහයක් දක්වා තිබීම.

***(ලකුණු 16 යි)***

(7) පහත දැක්වෙන තේමා යටතේ ගුප්ත සමයේ සංස්කෘතික අභිවර්ධනය පරීක්ෂා කරන්න.

(i) භාෂාව සහ සාහිත්‍යය

(ii) ආගම

(iii) කලාව සහ ගෘහ නිර්මාණය

(i) භාෂාව හා සාහිත්‍යය.

- මෙකල සංස්කෘත භාෂාවේ විශාල වර්ධනයක් ඇතිවීම. රාජ සභා නිල කටයුතුවලදී මෙන්ම ශාස්ත්‍රීය කටයුතුවලදී සංස්කෘත භාෂාව යොදා ගැනීම.
- සංස්කෘත භාෂා අධ්‍යයනයට රාජ්‍ය අනුග්‍රහය දැක්වීම. සංස්කෘත භාෂාවෙන් ග්‍රන්ථ රැසක් රචනා කිරීම. මෙම යුගයේදී උගත් පඬිවරු ආගම දර්ශනය, ධර්ම ශාස්ත්‍ර, නාට්‍ය ශාස්ත්‍ර, කාව්‍ය, ව්‍යාකරණ, ජෝතිෂ්‍යය, තර්ක ශාස්ත්‍ර, ගණිත විද්‍යා, භූගෝලය, වෛද්‍ය ශාස්ත්‍ර වැනි විවිධ අංශ ඔස්සේ ග්‍රන්ථ රැසක් රචනා කිරීම.
  - ✓ නාට්‍ය ග්‍රන්ථ - මාලවිකාග්නිමිත්‍ර, සාකුන්තලය, වික්‍රමෝර්ශි, මුද්‍රා රාක්ෂය (කාලිදාස), දේවි චන්ද්‍රගුප්ත (විශාඛා දත්ත)
  - ✓ කාව්‍ය ග්‍රන්ථ - රඝුවංසය, කුමාරසම්භවය, මේඝදූතය, ඍතුසංහාරය (කාලිදාස), කිරාතාර්ජුන ශිශුපාලවධ (භාරවි)
  - ✓ ගද්‍ය කාව්‍ය - වාසවදත්තා (වසුබන්ධු)
  - ✓ වෛද්‍යග්‍රන්ථ - අෂ්ඨාංගහෘදය (වෘහද් වාග්භට)
  - ✓ ගණිතය හා තාරකා විද්‍යාව - ආර්යභට්ටය, සූර්ය සිද්ධාන්තය (ආර්යභට), බෘහද් සංහිතාව (වරහා මිහිර)
  - ✓ අමරකෝෂ (අමරසිංහ) මෙය සංස්කෘත භාෂාවේ ශබ්දකෝෂයකි
  - ✓ ධර්මශාස්ත්‍ර ග්‍රන්ථ - කාත්‍යායන-ධර්ම සූත්‍රය
- අලහබාද් ප්‍රශස්තය - සමුද්‍රගුප්ත රජුගේ රජවාසලේ කවියෙකු වූ හරිෂේන විසින් කරන ලදී.
- පංචතන්ත්‍රය හා හිතෝපදේශය මේ අවධියේ රචනා විය. හර්ෂ චරිතය, කදම්බරී. (භාණ බට්ට).
- භාරවි, කාලිදාස, අමරසිංහ, භට්ට, විශාක දත්ත, ශුද්‍රක, භාස මෙකල සිටි ගත්කතුවරු කිහිප දෙනෙකි.
- නවරත්න කවින් දෙවන චන්ද්‍රගප්ත රජුගේ රාජසභාවේ සිටියහ (ධන්වන්තරි, ක්ෂපණක, අමරසිංහ, ශංකු, වේතාලභට්ට, කාලිදාස, වරහාමිහිර, වරරුචි).
- උසස් අධ්‍යාපනයක් ලබාදීමට පාලකයන් ක්‍රියා කර ඇත.

(ii) ආගම

- පැරණි බ්‍රාහ්මණ ආගම නව ස්වරූපයකින් හින්දු ආගම ලෙස ඉදිරියට පැමිණීම හා එහි පුනර්ජීවනයක් ඇතිවීම (බ්‍රහ්ම, විෂ්ණු, මහේශ්වර වැනි දෙවිවරු ඉදිරියට ඒම) සහ ඒ හා බැඳුණු සාහිත්‍යයක් වර්ධනය වීම (පුරාණ ග්‍රන්ථ, විෂ්ණු ස්මෘති, රාමායණය, මහාභාරතය, මනුස්මෘතිය).
- ජෛනාගමට හා බුද්ධාගමට අනුග්‍රහය දැක්වීම - කුමාරගුප්ත සමයේදී නාලන්ද විහාරය ඉදි කිරීම.

(iii) කලාව හා ගෘහ නිර්මාණ ශිල්පය

- බෞද්ධ ලෙන් විහාර ඉදි කිරීම - විහාර හා චෛත්‍ය ශාලා (එල්ලෝරා, අවුරංගාබාද්, භාහ්, උදයගිරි, දියෝගාර්හි විෂ්ණු දේවාලය, භිතර්ගන්ජ්හි දේවාලය). බෞද්ධ ස්තූප ඉදිකිරීම (සාරානාත්හි ධමෙක් ස්තූපය, සින්ධහි මීරුපූර් ස්තූපය)
- මූර්ති කැටයම් - එල්ලෝරා, බාග්, සාරානාත් හා දියෝගාර් දේවාලය
- මූර්ති කලාව - බෞද්ධ හා හින්දු ප්‍රතිමා (සාරනාත් ධර්මචක්‍ර මුද්‍රාවෙන් යුතු හිඳි පිළිමය, මථුරාවේ හිටි බුදු පිළිමය). රාම-සීතා, අගස්ත්‍යය, විෂ්ණු, ශිව, සත්ත්ව රූප වැනි විශාල මූර්ති සංඛ්‍යාවක් පැවතීම. බෝධිසත්ව ප්‍රතිමා හා දේව ප්‍රතිමා හමුවීම (කාසි, බුද්ධගයා, සාරානාත්).
- උපශාන්ත බව, ස්ථායී බව හා සියුම් බව යන ලක්ෂණවලට මුල් තැන දෙමින් මූර්ති නිර්මාණය කොට තිබේ.

<u>චිත්‍ර කලාව</u>

- අජන්තා ලෙන් විහාර සිතුවම් උසස් ගනයේ නිර්මාණ වේ.
- කාලිදාසගේ කෘතිවල සඳහන් වන ලාලිත්‍යය, සෞම්‍යභාවය, රිද්මය, ශෝභනත්වය, සුන්දරත්වය මෙම සිතුවම්වල දක්නට ලැබේ.
- පද්මපානි බෝසතුන්ගේ සිතුවම, ෂද්දන්ත ජාතකය, රාහුල කුමරු බුදුන් වහන්සේ හමුවීම දැක්වෙන සිතුවම් උසස් ගනයේ ලා සැලකිය හැකිය.

*(ලකුණු 16 යි)*

(8) **පහත දක්වෙන ශීර්ෂ යටතේ චෝළ ආධිපත්‍යයෙහි ව්‍යාප්තිය පැහැදිලි කරන්න.**

(i) **ක්‍රි. ව. නවවන සියවසේදී දකුණු ඉන්දියාවේ චෝළ ආධිපත්‍යය ස්ථාපිත කළ ආරම්භක පාලකයා නම් කරන්න.**

විජයාලය චෝළ

*(ලකුණු 01 යි)*

(ii) චෝළ ආධිපත්‍යය යටතේ පැවති මණ්ඩල දෙකක් නම් කරන්න.

චෝළ මණ්ඩලම්, පාණ්ඩ්‍ය මණ්ඩලම්, මලයිනාඩු මණ්ඩලම්, කොංගු මණ්ඩලම්, මුම්මුඩිචෝළ මණ්ඩලම්

02
(ලකුණු 02 යි)

(iii) පළමුවන රාජරාජ සහ පළමුවන රාජේන්ද්‍ර රජවරුන්ගේ කාර්ය සාඵල්‍යය අගය කරන්න.

පළමුවන රාජරාජ

- චෝළයන්ගේ බලය නැවත වතාවක් දකුණු ඉන්දියවේ ප්‍රතිෂ්ඨාපනය කොට එය ප්‍රෞඪ අධිරාජ්‍යයකට ආසන්න තත්ත්වයකට ගෙන එන්නේ පළමුවන රාජරාජය (985-1016).
- චේරයන්ගේ නාවුක බලය විනාශ කොට එම රාජධානිය තම ආධිපත්‍ය යටතට ගනු ලැබීම.
- මදුරාව අල්ලා ගෙන පාණ්ඩ්‍ය රජු සිරභාරයට ගැනීම.
- ලංකාවේ අනුරාධපුර රාජධානිය ආක්‍රමණය කිරීම.
- මයිසූරයේ විශාල කොටසක් යටත් කර ගැනීම (ගංගවාඩිය, නොලම්බපාඩි).
- බටහිර චාලුක්‍ය රාජ්‍යය ආක්‍රමණය කිරීම. එහි පාලකයා වූ සත්‍යශ්‍රය රජු විසින් රාජරජ පලවා හැරීම.
- අනතුරුව නැගෙනහිර චාලුක්‍ය රාජ්‍යය ආක්‍රමණය කොට වෙංගියේ විමලාදිත්‍ය රජු පරාජය කිරීම. විමලාදිත්‍ය සොලි ආධිපත්‍යය පිළිගැනීම.
- බලසම්පන්න නාවුක හමුදාවක් ගොඩනැගීම නිසා ඔහු සාමුද්‍රික අධිරාජ්‍යයක් ගොඩ නැගීමේ පදනම දැමීය.

පළමුවන රාජේන්ද්‍ර

- පළමුවන රාජේන්ද්‍ර රජු විසින් මෙහෙයවන සටන් හා ඔහු ලැබූ ජයග්‍රහණ පිළිබඳ විස්තර ඔහුගේ අභිලේඛන වන තිරුවාංලගාඩු තඹ සන්නසේ හා තිරුමලෙයි ගිරි ලිපියේ සඳහන් වේ.
- උතුරු ඉන්දියාවේ නැගෙනහිර ප්‍රදේශය ඉලක්ක කර ගැනීම. එහිදී බෙංගාලයේ ගංගානම් නදිය දක්වා සටන් මෙහෙයවීම.
- පාණ්ඩ්‍ය හා කේරල රාජ්‍ය යටත් කරගෙන ඒවායේ පාලකයන් ලෙස පුතුන් පත් කිරීම.
- ලංකාවේ උතුරු ප්‍රදේශයේ බලය හිමිකර ගැනීම හා පස්වන මිහිඳු රජු සිරකරුවෙකු ලෙස රැගෙන යාම.
- පොළොන්නරුව පාලන මධ්‍යස්ථානය කර ගනිමින් එම ප්‍රදේශය 'මුම්මුඩිශෝල මණ්ඩලම්' නමින් හඳුන්වා ප්‍රාන්තයක් ලෙස පවත්වා ගෙන යාම.

- අග්නිදිග ආසියාවට ආක්‍රමණ එල්ල කරමින් පළමුවෙන්ම අන්දමන් හා නිකොබාර් දූපත් යටත් කර ගැනීම.
- ශ්‍රී විජය රාජ්‍යයට ආක්‍රමණයක් එල්ල කරමින් ශෛලේන්ද්‍ර රජු පරාජය කොට, කඩාරම් බලකොටුව අල්ලා ගැනීම ('කඩාරම් කොණ්ඩ' යන විරුදනාමයෙන් ඔහු හැඳින්වීම).
- මෙම ආක්‍රමණ සමඟම සුමාත්‍රා, කඩාරම්, මලයානු අර්ධද්වීපය හා පහළ බුරුමයද සිය අවනතභාවයට පත් කරගෙන චෝළ බලය අග්නිදිග ආසියාවේ ව්‍යාප්ත කිරීම.
- මෙමගින් ඉන්දියන් සාගරයේ හා අග්නිදිග ආසියාකරයේ වෙළෙඳම පාලනය කිරීමට සමත් වීම.

*(ලකුණු 09 යි)*

(iv) **චෝළ ආධිරාජ්‍යයේ පරිහානිය පිළිබඳ සංක්ෂිප්ත විස්තරයක් සපයන්න.**

- රාජේන්ද්‍ර රජුගේ පාලනය අවසාන කාලයේ බටහිර චාලුක්‍යයන් සමඟ සටන් ඇතිවීම.
- 1044 පමණ බලයට පත් වූ රාජාධිරාජ මුලදී ජයග්‍රාහී ලෙස චාලුක්‍ය රාජ්‍ය ආක්‍රමණය කළ නමුත් 1052දී සිදු වූ කොප්පම් සටනේදී චාලුක්‍යයන් අතින් මරණයට පත්වීම. ඔහුගේ සොහොයුරු දෙවන රාජේන්ද්‍ර (රාජේන්ද්‍ර පරකේශරීවර්මන්) එම සටන ජයග්‍රහණය කළේ යැයි චෝළ ශිලාලේඛනවල සඳහන් වෙන නමුත් දෙපාර්ශවය අතර සටන් නොකඩවා පැවතීම.
- පසු කාලයේදී දක්ෂ චෝළ පාලකයන් බිහි නොවීම චෝළයන්ගේ පරිහානියට හේතු විය.
- පසුකාලීන චෝළ පාලකයන් අතර සැලකිය යුතු පාලකයෙකු ලෙස පළමුවන කුලෝත්තුංග (1070 - 1118) හඳුනාගත හැකි වුවද ඔහු බලයට පත්වීමත් සමඟ පළමුවන විජයබාහු රජතුමා යටතේ ලංකාව චෝළ බලයෙන් නිදහස්වීම.
- කුලෝත්තුංගගෙන් පසුව උතුරින් හොයිසාලයින්ගේ හා දකුණින් පාණ්ඩ්‍යයන්ගේ නැඟී ඒම චෝළ බලය අවසන්වීමට හේතු විය. චෝළයන්ට අවසාන පහර එල්ල කරන ලද්දේ 1310දී මලික් කපූර්ගේ ආක්‍රමණය විසිනි.
- චෝළ නාවුක ශක්තිය දුර්වලවීම.

*(ලකුණු 04 යි)*

(9) පහත දක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම දෙකක ඓතිහාසික වැදගත්කම පිළිබඳ කෙටි සටහන් ලියන්න.

(ලකුණු 08 x 2 = 16යි)

(i) කුෂාණ සමයේ බුද්ධදහම

- විදේශීය පිරිසක් වූ කුෂාණ පාලකයෝ බුද්ධදහමේ වර්ධනයට අනුග්‍රහ දැක්වූහ.
- කණිෂ්ක, වශිෂ්ක, හා හුවිෂ්ක යන පාලකයන් බුද්ධදහමට අනුග්‍රහ දක්වූහ.
- හතරවන ධර්ම සංගායනාව වසුමිත්‍ර හිමියන්ගේ ප්‍රධානත්වයෙන් පුරුෂපුරයේ කුණ්ඩලවන විහාරයේදී සිදු කිරීම. මේ සඳහා අශ්වඝෝෂ, පාර්ශව, වසුබන්ධු, සූර්යබන්ධු, ජිනබන්ධු, වැනි මහ තෙරවරු 500ක් සහභාගි වූහ.
    - ✓ මහායාන බුද්ධදහම නිකාය 18කට බෙදී තිබූ අතර සංගායනාවේදී ඒවා විමර්ශනයට භාජනය කිරීම සිදු විය.
    - ✓ සංගායනාවෙන් පසු මහාවිභාෂා (විනය විභාෂා, සූත්‍ර විභාෂා, අභිධර්ම විභාෂා) නමින් සංස්කෘත භාෂාවෙන් ත්‍රිපිටකයට අටුවා ග්‍රන්ථ රචනා කිරීම හා ඒවා තඹපත්වල ලියා තැබීම.
    - ✓ ඉන්දියාවෙන් පිටතට බුදු දහම ව්‍යාප්ත කිරීම - මධ්‍ය ආසියාව, චීනය, කොරියාව, හා ජපානය. එහි ප්‍රතිඵලයක් වශයෙන් මධ්‍ය ආසියාවේ යාර්ඛාණ්ඩ්, ඛෝටාන් හා නීය වැනි ස්ථානවල බෞද්ධ මධ්‍යස්ථාන බිහිවීම.
- හුවිෂ්කපුරයේ ආරාමවල භික්ෂූන් වහන්සේ 5000ක් වැඩ සිටි බව සඳහන් වේ.
- බෝධිසත්ව සංකල්පය හා දේවත්වය පිළිබඳ සංකල්පය වර්ධනය වීම.
- මෙකල සාහිත්‍යයේද දියුණුවක් දක්නට ලැබිණි. අශ්වඝෝෂ, නාගර්ජුන, වසුමිත්‍ර, වසුබන්ධු, ආර්යදේව, සංඝමිත්‍ර, පාර්ශව, නාගර්ජුන වැනි උගතුන් ග්‍රන්ථකරණයේ යෙදීම නිසා බෞද්ධ ග්‍රන්ථ රචනා වීම.
- දසභූමි, විභාෂා ශාස්ත්‍ර, සුහෘත්ලේඛා, විංශතිපඤ්ච පාරමිතා ටීකා ග්‍රන්ථය, බුද්ධ චරිතය, සූත්‍රාලංකාර ශාරිපුත්‍රකරණය, සෞන්දරානන්ද කාව්‍ය වැනි ග්‍රන්ථ රැසක් බිහිවිය.
- මහායාන බෞද්ධ ග්‍රන්ථ චීන භාෂාවට පරිවර්තනය කෙරිණ.
- ගාන්ධාර, මථුරා වැනි කලා සම්ප්‍රදායයන් ඇතිවීම.
- කලාවට බටහිර ආභාසය ලැබීම.
- කණිෂ්ක, වශිෂ්ක, හා හුවිෂ්ක පාලන සමයේ බෞද්ධ ආගමික සිද්ධස්ථාන දියුණුවිය.
- බෞද්ධ ගොඩනැගිලි ඉදි කිරීම (විහාරාරාම, ස්තූප, පෙෂවෝර් ධාතුමන්දිරය).
- බුදු පිළිමය නිර්මාණයේ ආරම්භය.
- බෝධිසත්ව පිළිම නිර්මාණය කිරීම.
- ඉන්දු-ග්‍රීක කලාව වර්ධනය වීම.
- මූර්ති හා කැටයම් කලාවේ වර්ධනයක් ඇතිවීම.

(ලකුණු 8 යි)

## (ii) සාතවාහනයින් යටතේ ඩෙකානය

- ශුංග හා කාන්වා රාජවංශ යටපත් කොට ඩෙකානයේ ක්‍රි. පූ. තුන්වන සියවසේදී පමණ නැගී සිටියේ සාතවාහන රාජවංශයි.
- සාතවාහනයන් පිළිබඳව පුරාණ ග්‍රන්ථ, අශෝක ලිපි, ඛාරවේලගේ හථිගුම්ඵා ලිපිය, කාර්ලේ, නාසික්, නානඝාත් වැනි ස්ථානවලින් හමු වූ සාතවාහන ලිපි හා කාසි, ප්ලිනිගේ වාර්තා, රුද්‍රදාමන්ගේ ජුනගාද් හා කන්හේරි ලිපි තුළින් තොරතුරු ලැබීම.
- සාතවාහන පළමු පාලකයා සිමුඛය. මොහු කලක් කාන්වා රජුගේ සාමාන්තයෙකුව සිට කාන්වා වංශික අවසන් රජු වූ සුසර්මන් මරා රජවීම.
- සිමුඛගෙන් පසුව ඔහුගේ සොහොයුරු කන්හ (ක්‍රිෂ්ණ) රජවී බටහිර දෙසින් නාසික් දක්වා රාජ්‍යය ව්‍යාප්ත කිරීම.
- පසුව සිමුඛගේ පුත් පළමුවන ශාතකර්ණි, ඩෙකානයේ සිය බලය පුළුල් කරමින් අශ්වමේද යාග දෙකක්ද පැවැත්වීම. නානඝාත් ලිපියේ ශාතකර්ණි රජු 'වීර', 'ශූර', 'අප්‍රතිහත', 'ඡත්‍ර' හා 'දක්ෂිණාපථපති' ලෙස හඳුන්වා ඇත.
- සාතවාහන බලය ඩෙකානයේ බලවත්ව පැවති කාලය ගෞතමී පුත්‍ර ශාතකර්ණිගේ රාජ සමයේදීය. මෙම පාලකයා ශක සත්‍රප පාලකයෙක් වූ නහපාන පරාජය කර ඔහුට අයත්ව තිබූ අපරාන්ත, සෞරාෂ්ට්‍ර, නැගෙනහිර හා බටහිර අවන්ති, මාල්වා, කතර්, අනූප යන ප්‍රදේශවල බලය අල්ලා ගත්තේය. යවන හා පහ්ලවයන්ද පරාජය කිරීම. උතුරින් මාල්වා, කතියවාර් දක්වාත්, නැගෙනහිරින් බෙරාර් දක්වාත්, බටහිරින් කොන්කාන් ප්‍රදේශය දක්වාත්, දකුණින් ක්‍රිෂ්ණ ගෝදාවරි දක්වාත් බලය ව්‍යාප්ත කර ගැනීම මෙකල සිදුවිය. මොහු රාජ රාජ මහාරාජ හා වර වාරණ වික්‍රමචාරු යන විරුදය දරා ඇත.
- ගෞතමී පුත්‍ර ශාතකර්ණිට පසුව වාශිෂ්ඨී පුත්‍ර පුලමායි බලයට පත් විය. බෙලරි ප්‍රදේශය ඈඳා ගැනීම ඔහු යටතේ සිදුවිය. ඒ සමඟ ඩෙකානයේ බලය පුළුල්වීම. මේ නිසා ආන්ද්‍රපථ හා සාතවාහිනීය රාජ්‍ය ලෙස මෙකල හැඳින්වීම. මොහුට අයත් කාසි ගෝදාවරි හා ගුන්තර් ප්‍රදේශවලින් හා කොරමැන්ඩල් වෙරළින් හමුවී ඇති අතර නාසික්, කාර්ලේ, අමරාවති යන ප්‍රදේශවලින් සෙල්ලිපිද සොයා ගෙන ඇත.
- පුලමායිගෙන් පසු ශිව ශාතකර්ණිද ඉන් පසු යඥ ශ්‍රී ශාතකර්ණිද රජ වූහ. මොහු සාතවාහන පෙළපතේ අවසාන පාලකයාය. මොහු ක්‍රිෂ්ණ ගෝදාවරි ප්‍රදේශ, මධ්‍ය ප්‍රදේශය, උතුරු කොන්කානය, බැරෝඩා, කතියවාර් යන ප්‍රදේශවල බල ව්‍යාප්තිය හා පැවති බලය ආරක්ෂා කිරීම සිදු කර ඇත. මොහුගේ පාලන සමයට අයත් කාසි ක්‍රිෂ්ණ ගෝදාවරි දෙගම්මැද ප්‍රදේශයෙන්, බෙරාර්, උතුරු කොන්කානය, බැරෝඩා, කතියවාර්, සුප්පාරක යන ප්‍රදේශවලින් සොයා ගෙන ඇත.
- සාතවාහන අධිරාජ්‍යය විශාල එකක් වුවද එහි දේශපාලන ක්‍රමය ඉතා සරල විය. රජු ප්‍රධානියා විය. මධ්‍ය ආණ්ඩුවේ පාලනය දෙපාර්තමේන්තු යටතේ විය.

රාජ්‍යය ආහාරවලට (පාලන අංශ) බෙදා තිබිණි. ආහාරයක් අමාත්‍යයෙකු යටතේ විය. මහාසේනාපති, භාණ්ඩාගාරික, කළමනාකරු, මහාමාත්‍රවරු, වාර්තා තබන්නන් වැනි නිලධාරීන් පාලනයට සහය වූහ. ප්‍රාදේශීය පාලනය, රජයේ නිලධාරීන්ගේ අනුදැනුම මත සාමන්තයින් යටතේම පැවතිණි. ගම පාලනය වූයේ ග්‍රාමික (ගම්පතිවරයෙකු) යටතේ ය.

- කාන්තාවට වැදගත් ස්ථානයක් හිමි විය. රජු තම නාමය මව්පාර්ශවයෙන් දැක්වීම. කාන්තාව තම ස්වාමියා හා සම තත්ත්වයෙන් කටයුතු කළ බව මූර්ති මගින් පෙන්නුම් කෙරේ.
- රාජ්‍ය අනුග්‍රහය යටතේ ආර්ථිකය කෘෂිකර්මය, වෙළෙඳාම, කර්මාන්ත යන ක්ෂෙත්‍ර වර්ධනය කර ගනිමින් පවත්වා ගෙන ගොස් ඇත. වෙළෙඳ හා නිෂ්පාදන කටයුතු සඳහා ශ්‍රේණි ක්‍රමයක් (ධාන්‍ය වෙළෙඳුන්, ලෝකුරුවන්, පෙහෙකරුවන්, මාලාකාරයන්) යටතේ ආර්ථික කටයුතු සංවිධානයවී තිබීම. සෑම ශ්‍රේණියකම සභාපතිවරයෙක් (සෙට්ඨි)සිටීම. සභා ශාලාවක්ද (නිගමසභා) තිබීම. බැංකු ක්‍රමය පැවතීම.
- දේශීය මෙන්ම විදේශීය වශයෙන්ද වෙළෙඳාම දියුණු තත්ත්වයක තිබීම (අභ්‍යන්තර වාණිජ නගර ලෙස පයිඨාන්, ජුන්නාර්, කරහාටක, නාසික්, වෛජයන්ති). කාර්ය බහුල වරායන් දක්නට ලැබීම (ස්වර්ණ ක්‍රීසය, බැරිගසාව, සෝපාරා). අපනයන ද්‍රව්‍ය අතර මැණික් වර්ග, දුහුල් පිළි වර්ග විය. මුද්‍රික පාත, ඉතා සිනිඳු පටපිළි, සුවඳ විලවුන්, වීදුරු ආදිය ආනයනය ද්‍රව්‍ය අතර විය.
- ඩෙකානයේ සංස්කෘතික අභිවෘද්ධිය පිණිස සුවිශේෂ දායකත්වයක් සාතවාහන පාලකයින්ගෙන් ලැබී ඇත. ඒ අනුව, බුදුදහමේ හා බ්‍රාහ්මණ ආගමේ දියුණුව, වාස්තු විද්‍යාව හා කලාව දියුණුවීම, සාහිත්‍ය වර්ධනය, ඉන්දිය සංස්කෘතිය ඉන්දියාවෙන් ඔබ්බට ව්‍යාප්ත කිරීම, ආගමික සහනශීලි බව.
- මොවුන් යටතේ බුදුදහමේ දියුණුව - අමරාවති ස්තූපය විශාල කිරීම / අල්ලූර්, ගුම්මඩිදුර්, ඝණ්ටශාලා, ගුඩිවාලි, ගෝලි යන ස්ථානවල ස්තූප ඉදිකිරීම / නාසික්, කාර්ලේ, කාන්හේර් යන ස්ථානවල ලෙන් විහාර සකස් කිරීම / තවදුරටත් විහාර, චෛත්‍ය, ගුහා හා ඒවා තුළ වූ මූර්ති හා කැටයම් කලාව වර්ධනය / ගෘහ නිර්මාණය ගැන කෘෂ්ණා ගෝදාවරි නදී නිම්නවල ඇති පුරාවිද්‍යාත්මක සාධක තුළින් පිළිඹිබු කෙරේ.
- බ්‍රාහ්මණ ආගමේ දියුණුවට දක්වූ අනුග්‍රහය - ඇතැම් රජවරු බ්‍රාහ්මණයන්ට අනුග්‍රහ දක්වීම / යාග පැවැත්වීම / ශිව දෙවියන්ට ස්තෝත්‍ර ගායනය / රාම, කේශව, අර්ජුන වැනි වීර කාව්‍යවල එන වීරයන් අනුකරණය කිරීම / විෂ්ණු, ශිව, ක්‍රිෂ්ණ, ගනේෂ හා පශුපති දේව සංකල්ප දියුණු වීම.

***(ලකුණු 8 යි)***

### (iii) සමුද්‍රගුප්තගේ යුද ප්‍රයාන

සමුද්‍රගුප්තගේ යුද ප්‍රයානයේ අවස්ථා පහක් පැවති අතර මේ ගැන සඳහන් ප්‍රධාන මූලාශ්‍රය වන්නේ අලහාබාද් ප්‍රශස්තිය යි.

- ආර්යාවර්තය ජය ගැනීම:
  රාජ්‍ය නවයක් යටත් කොට ගුප්ත රාජ්‍යයට ඈඳා ගැනීම. මෙහිදී රුද්‍රදේව, මථිල, නාගදත්ත, චන්ද්‍රවර්මන්, නාගසේන, නන්දින්, අච්‍යුත, ගණපතිනාග, බාලවර්මන් යන රජුන් පරාජය කර රාජ්‍ය ඈඳාගැනීම.
- අටවික රාජ්‍යය ජය ගැනීම:
  මධ්‍යම ඉන්දියාව එනම් වින්ද්‍යා කඳුවැටිය ආශ්‍රිත ප්‍රදේශවල රාජ්‍යයන්හි රජවරුන් පරාජයට පත් කොට ඔවුන්ගේ යටත්භාවය පමණක් ලබා ගැනීම.
- දක්ෂිණාපථ රාජ්‍ය ජය ගැනීම:
  දක්ෂිණාපථ රාජ්‍යය යටත් කොට ඒවායේ පාලකයන් අල්ලාගත් අතර ඔවුන් රජුගේ ආධිපත්‍යය පිළිගත් යටත් පාලකයන් ලෙස නැවතත් එම රාජ්‍යවල පිහිටුවීම (කෝසලය, මහාකාන්තාරය, කෞරාලය, පිෂ්ඨපුරය, කොට්ටූරය, එරණ්ඩපල්ලය, කාංචිපුර, අවමුක්තය, වෛංගිය, පල්ලක්කය, දේවරාෂ්ට්‍රය,කුෂ්තලපුරය).
- ප්‍රත්‍යන්ත රාජ්‍ය යටත් කිරීම:
  සමතට (බෙංගාලය දක්වා), දවාක (ඇසෑම් ප්‍රදේශ), නේපාලය, කාමරූප (ඉහළ ඇසෑමට), කත්‍රිපුර (ජලන්දාරය).
- සංඝ රාජ්‍ය (ගෝත්‍ර) නවයක් යටත් කරගෙන තිබේ:
  මාලව, ආර්ජුනායක, යෞධෙය, මද්‍රක, ආභීර, ප්‍රාර්ජුන, සනකානික, කාක, ඛරපරක

ප්‍රත්‍යන්ත රාජ්‍ය හා සංඝ රාජ්‍යවල පාලකයෝ බද්ද ගෙවීම, ගුප්ත රාජ්‍යයේ නියෝග පිළිපැදීම හා තෑගිභෝග හා විවිධ දැකුම් සමග රජු බැහැදැක යටත් බව ප්‍රකාශ කිරීම මගින් රජුගේ ආධිපත්‍යය පිළිගෙන ඇත.

***(ලකුණු 08 යි)***

### (iv) ත්‍රිකෝණ අරගලය

- හර්ෂවර්ධන රජුගේ මරණයෙන් පසු උතුරු ඉන්දියාවේ ආධිපත්‍යය උදෙසා ප්‍රධාන වශයෙන් රාජවංශ තුනක් අතර ඇති වූ බල අරගල 'ත්‍රිකෝණ අරගලය' ලෙස හැඳින්වීම.
- බටහිර ඉන්දියාවේ රාජ්පුතානාහි ගුර්ජර් ප්‍රතිහාර, බෙංගාලයේ පාල හා බටහිර ඩෙකානයේ මහාරාෂ්ට්‍රයේ රාෂ්ට්‍රකූට යන රාජ්‍ය තුන අතර ගැටීම.

- හර්ෂවර්ධන රාජ්‍ය සමයේදී උතුරු ඉන්දියාවේ බල කේන්ද්‍රස්ථානය බවට කනෞජය පත්වීම නිසා, මෙකී රාජ්‍යයන් කනෞජයේ ආධිපත්‍යය වෙනුවෙන් යුද්ධ කරන ලද්දේ, කනෞජය දිනාගැනීම උතුරු ඉන්දිය දේශපාලන ආධිපත්‍යයේ සංකේතයක් බවට පත්ව තිබීම නිසාය.
- ගුර්ජර ප්‍රතිහාර පාලක වත්සරාජ විසින් පාල වංශික ධර්මපාල පරාජය කරමින් නැගෙනහිර බලය පතුරුවාලීමට උත්සාහ කරන අතර රාෂ්ටකූට පාලක ධ්‍රැව රජු ඔහු පරාජය කොට රාජපුතානා කාන්තාරය දෙසට පලවා හැරීම.
- මේ නිසා ධර්මපාල රජුට ගුර්ජර ප්‍රතිහාර පහරදීම්වලින් වැළකී තම බලය බටහිර දෙසට පතුරුවා ගැනීමට හැකි විය.
- එහෙත් රාෂ්ටකූට පාලක ධ්‍රැව බෙංගාලය ආක්‍රමණය කොට ධර්මපාල රජු පරාජය කළේය. එහෙත් ධ්‍රැවට හදිසියේ ආපසු යෑමට සිදුවූ අතර එම අවස්ථාවෙන් ප්‍රයෝජන ගෙන කනෞජය අල්ලාගත් ධර්මපාල රජු, ප්‍රතිහාරයන්ට යටත්ව සිටි ඉන්ද්‍රායුධ ඉවත් කොට තමාට අවනත චක්‍රායුධ එහි පාලකයා බවට පත් කිරීම.
- ගුර්ජර ප්‍රතිහාර පාලක දෙවන නාගභට (වත්සරාජගේ පුත්‍රයා) ප්‍රතිහාර බලය නැවත පිහිටුවීමට දැරූ උත්සාහයේදී ධර්මපාල රජු පරාජය කිරීම.
- එහෙත් රාෂ්ටකූට පාලක තුන්වන ගෝවින්ද උතුරු ප්‍රදේශය ආක්‍රමණය කොට නාගභට පරාජය කිරීම සමත් විය. නමුත් ජයග්‍රහණය තහවුරු කර ගැනීමට පෙර ගෝවින්ද රජුට ආපසු යෑමට සිදුවීම නිසා එය ධර්මපාල රජුට වාසිදායක විම.
- ධර්මපාල පුත් දේවපාල රජු ද උතුරු ඉන්දියාවේ බලය ආරක්‍ෂා කර ගැනීමට කටයුතු කිරීම.
- එහෙත් දේවපාලගෙන් පසු පාලවංශික දුර්වල පාලකයන් රජකම් දැරීම නිසා භෝජ රජු යටතේ ගුර්ජර ප්‍රතිහාර නැගී ඒමක් සිදු වීම.
- ගුර්ජර ප්‍රතිහාර පාලක භෝජ රජු ද සටන් පෙරට ගෙන යමින් උතුරු ඉන්දියා අධිරාජ්‍යයේ බලය අල්ලා ගැනීමට ක්‍රියා කිරීම.
- අවසානයේදී මෙම රාජ්‍ය තුනම දුර්වලවී ඒවායේ බලය වෙනත් කණ්ඩායම් දිනා ගැනීම.

**(ලකුණු 08 යි)**

******

